## අභ්‍යාසය 10

01. කථාවේ ඇතුළත් වර්ණ ගන්වන ලද ක්‍රියාපදවල ලකාරය, පුරුෂය, වචනය හා තේරුම ලියන්න.

ශබ්දාර්ථ

पोतेन - (හබලෙන්)
तस्करः - (සොරා)
पितामहः - (සීයා)
कूपम् - (ළිඳ)
अग्रजा - (වැඩිමහල් සහෝදරිය)
उत्पीठिका - (මේසය)

कामं व्यसनवृक्षस्य मूलं दुर्जनसंगतिः ।
කාමං ව්‍යසනවෘක්ෂස්‍ය මූලං දුර්ජනසංගතිඃ
දුදනන් හා එක්වීම ඒකාන්තයෙන් විපත් නැමති ගසේ මුලයි.

क्षीणा नरा निष्करुणा भवन्ति ।
ක්ෂීණා නරා නිෂ්කරුණා භවන්ති
පිරිහුණු පුද්ගලයෝ අකාරුණික වෙත්.

क्षारं पिबति पयोधेर्वर्षत्यम्भोधरो मधुरम्भः ।
ක්ෂාරං පිබති පයොධේර්වර්ෂත්‍යම්භෝධරෝ මධුරම්භඃ.
වළාකුළ, මුහුදෙන් ලුණු දිය බී මිහිරි ජලය ලබා දෙයි.

06
පාඩම
षष्ठः पाठः ।

# चिन्ता मास्तु ।

## ප්‍රේරණාර්ථ ලෝට් (පරස්මෛපද)

ආශිර්වාද හා විධාන අර්ථ (ප්‍රේරණාර්ථ) සඳහා මෙය යෙදේ. ආශිර්වාදාර්ථය සඳහා පුරුෂත්‍රය ම යෙදෙන අතර විධානාර්ථයේ දී මධ්‍යම පුරුෂයේ යෙදේ. මෙය වර්තමානයට සමීප අනාගතයට අයත් වේ.

### ප්‍රත්‍යය සහ නිදර්ශන වරනැගීම

| | एक | द्वि | बहु | एक | द्वि | बहु |
|---|---|---|---|---|---|---|
| प्रथम | तु , तात् | ताम् | अन्तु | पठतु, पठतात् | पठताम् | पठन्तु |
| मध्यम | -[ हि], तात् | तम् | त | पठ, पठतात् | पठतम् | पठत |
| उत्तम | आनि | आव | आम | पठानि | पठाव | पठाम |

### එහි සිංහල අර්ථය

| පුරුෂ | ඒකවචන | ද්විවචන | බහුවචන |
|---|---|---|---|
| ප්‍රථමපුරුෂ | පාඩම් කරාවා | (දෙදෙන) පාඩම් කරත්වා | පාඩම් කරත්වා |
| මධ්‍යමපුරුෂ | පාඩම් කරව/ පාඩම් කරහිවා | (දෙදෙන) පාඩම් කරව්/ (දෙදෙන) පාඩම් කරහුවා | පාඩම් කරව් / පාඩම් කරහුවා |
| උත්තමපුරුෂ | පාඩම් කරම්වා | (දෙදෙන) පාඩම් කරමෝවා | පාඩම් කරමෝවා |

ප්‍රේරණාර්ථ ලෝට් (ආත්මනේපද)

ප්‍රත්‍යය සහ නිදර්ශන වරනැඟීම

| | एक | द्वि | बहु | एक | द्वि | बहु |
|---|---|---|---|---|---|---|
| प्रथम | ताम् | इताम् | अन्ताम् | पचताम् | पचेताम् | पचन्ताम् |
| मध्यम | स्व | इथाम् | ध्वम् | पचस्व | पचेथाम् | पचध्वम् |
| उत्तम | ऐ | आवहै | आमहै | पचै | पचावहै | पचामहै |

ලෝට් ලකාර ක්‍රියාපද ප්‍රේරණාර්ථයෙහි යෙදෙන ආකාරය වාක්‍යය මගින් හඳුනා ගනිමු.

१. पिता इच्छति ।
- १. पुत्रः पठतु । (පුතා පාඩම් කරාවා !)
- २. चिकित्सकः भवतु । (වෛද්‍යවරයෙකු වේවා !)
- ३. देशसेवां करोतु । (රටට සේවයක් කරවා !)

२. यतिः वदति ।
- १. सर्वे जनाः सुखिनः भवन्तु । (සියලු ජනයෝ සැප ඇත්තෝ වෙත්වා !)
- २. सर्वेभ्यः कल्याणं भवतु । (සියලු දෙනාට යහපතක් වෙත්වා !)

३. शिक्षकाः वदन्ति ।
- १. सर्वे छात्राः सावधानं तिष्ठन्तु । (සියලු ශිෂ්‍යයෝ සිත් එකඟකරගෙන සිටිත්වා !)
- २. पाठं पठन्तु । (පාඩම් හදාරත්වා !)
- ३. लेखं लिखन्तु । (ලේඛන ලියත්වා !)
- ४. कोलाहलं न कुर्वन्तु । (කෝලාහල නොකරත්වා !)

४. पिता पुत्रं वदति ।
- १. त्वं धर्मपाठशालां गच्छ । (ඔබ දහම් පාසලට යන්න.)
- २. सत्यं वद । धर्मं चर । (සත්‍යය කියන්න. ධර්මයෙහි හැසිරෙන්න.)

५. शिक्षकः छात्रं वदति ।
- १. त्वम् उत्तिष्ठ । (ඔබ නැගිටින්න.)
- २. त्वम् उपविश । (ඔබ ඉඳගන්න.)
- ३. त्वं बहिः गच्छ । (ඔබ පිටතට යන්න.)

६. शिक्षकः छात्रान् वदति । → १. यूयं पाठं पठत । (නුඹලා පාඩම හදාරව්.)
→ २. यूयं वाक्यं लिखत । (නුඹලා වාක්‍යය ලියව්.)
→ ३. यूयं चित्रं पश्यत । (නුඹලා චිත්‍රය බලව්.)

७. सैनिकः वदति । एतत् मम कर्तव्यम् । - (මෙය මම කළ යුතු ය.
→ १. अहं देशं रक्षाणि । (මම රට රකිම්වා!)

८. छात्रः वदति । → १. श्वः परीक्षा अस्ति । (හෙට විභාගයක් ඇත.)
→ २. अद्य अहं पठानि । (අද මම පාඩම්කරම්වා !)

९. शिक्षकाः वदन्ति । → १. वयं समये विद्यालयं गच्छाम । (අපි වේලාවට පාසලට යමුමෝවා !)
→ २. वयं प्रतिदिनं प्रार्थना करवाम । (අපි දිනපතා ප්‍රාර්ථනා කරමෝවා !)
→ ३. वयं दुर्गुणान् न भजाम । (අපි දුදනන් ඇසුරු නොකරමෝවා !)

१०. छात्राः वदन्ति । → १. इदानीं वयं गृहं गच्छाम । (දැන් අපි ගෙදර යමුමෝවා !)

## අභ්‍යාසය 01

01. වරහන් තුළ ඇති ලෝට් ලකාර පරස්මෛපද ක්‍රියාරූපවලින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

१. गजः वनं ............... । [ गच्छतु / गच्छति / अगच्छत् ]

२. गायकः गीतं ............... । [ गायति / गायतु / अगायत् ]

३. माता भोजनं ............... । [ पचति / पचतु / अपचत् ]

४. सेवकौ सेवां ............... । [ कुरुताम् / कुरुतः / अकुरुताम् ]

५ सर्वे जनाः सुखिनः ............... । [ भवीन्त / भवन्तु / अभवन् ]

६. वैद्यः ओषधं ............... । [ यच्छति / अयच्छत् / यच्छतु ]

७. सर्वे छात्राः सावधानं ............... । [ तिष्ठन्ति / तिष्ठन्तु / अतिष्ठन् ]

| | | |
|---|---|---|
| ८. कोलाहलं मा | ............... । | [ कुरु / करोषि / अकरोः ] |
| ९. छात्रः प्रश्नं | ............... । | [ पृच्छति / पृच्छतु / अपृच्छत् ] |
| १०. त्वं क्षीरं | ............... । | [ पिब / पिबसि / अपिबः ] |
| ११. त्वं धर्मं | ............... । | [ चरसि / चर / अचरः ] |
| १२. युवां फलं | ............... । | [ खादथः / खादतम् / अखादतम् ] |
| १३. यूयं जलं | ............... । | [ रक्षत / रक्षथः / अरक्षत ] |
| १४. यूयं चित्रं | ............... । | [ पश्यत / पश्यथः / अपश्यत ] |
| १५. यूयम् उत्तरं | ............... । | [ वदथः / वदत / अवदत ] |
| १६. अहं देशं | ............... । | [ रक्षाणि / रक्षामि / अरक्षम् ] |
| १७. अहं शीघ्रं | ............... । | [ चलामि / चलाणि / अचलम् ] |
| १८. आवां संस्कृतं | ............... । | [ पठाव / पठावः / अपठाव ] |
| २९. अहं वस्त्राणि | ............... । | [ प्रक्षालयाणि / प्रक्षालयामि / प्रक्षालयम् ] |
| २०. वयं विद्यालयं | ............... । | [ गच्छाम / गच्छामः / अगच्छाम ] |

## ක්‍රියාකාරකම 01

01. ඉහතින් දැක්වුණු සියලු ම වාක්‍යයන් වර්තමාන කාලයට හා අතීත කාලයට හරවන්න.

නිදසුන:- වර්තමාන **गजः वनं गच्छति ।**
(ඇතා වනයට යයි.)

අතීත **गजः वनम् अगच्छत् ।**
(ඇතා වනයට ගියේ ය.)

## අභ්‍යාසය 02

01. **गम्** ධාතුව හා **वद्** ධාතුව ලෝට් ලකාර පරස්මෛපදයෙහි වරනගන්න.

| पुरुष | एकवचन | द्विवचन | बहुवचन | | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|---|---|---|---|
| प्रथमपुरुष | गच्छतु | | | | वदतु | | |
| मध्यमपुरुष | | | | | | | |
| उत्तमपुरुष | | | | | | | |

## අභ්‍යාසය 03

01. හිස්තැන් පුරවන්න.

| पुरुष वचन | लट् | लङ् | लोट् |
|---|---|---|---|
| प्र. पुरुष - एक | करोति | | |
| म. पुरुष - एक | खादसि | अखादः | |
| उ. पुरुष - एक | | | पिबानि |
| म. पुरुष - बहु | | | लिखत |
| प्र. पुरुष - बहु | | अपश्यन् | |
| उ. पुरुष - द्वि | धावावः | | |
| प्र. पुरुष - द्वि | | अवदताम् | |
| उ. पुरुष - बहु | | | वसाम |

## අභ්‍යාසය 04

01. लभ् ධාතුව හා सेव् ධාතුව ලෝට් ලකාර ආත්මනේපදයෙහි වරනගන්න.

| पुरुष | एकवचन | द्विवचन | बहुवचन | एकवचन | द्विवचन | बहुवचन |
|---|---|---|---|---|---|---|
| प्रथमपुरुष | लभताम् | | लभन्ताम् | सेवताम् | | |
| मध्यमपुरुष | | लभेथाम् | | | | सेवध्वम् |
| उत्तमपुरुष | लभै | | | | सेवावहै | |

## අභ්‍යාසය 05

01. ලෝට් ලකාර ආත්මනේපද ක්‍රියා රූපවලින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

१. जननी पुत्रं ............... । जन् (මව පුතකු බිහිකරාවා)
२. ते संस्कृतं ............... । भाष् (ඔවුහු සංස්කෘත කියත්වා)
३. त्वं बुद्धं ............... । वन्द् (ඔබ බුදුන් වඳිහිවා)
४. त्वं मा ............... । क्षम् (ඔබ මා රකිහිවා)
५. यूयं सत्यं ............... । भाष् (ඔබලා සත්‍යය කියහුවා)
६. अहं सत्यं ............... । भाष् (මම සත්‍යය කියම්වා)
७. वयं देशं ............... । सेव् (අපි දේශය ඇසුරු කරමෝවා)
८. छात्रौ बुद्धं ............... । सेव् (ශිෂ්‍යයෝ දෙදෙනා බුදුන් ඇසුරු කරත්වා)
९. पण्डिताः सम्मानं ............... । लभ् (පණ්ඩිතයෝ සම්මානය ලබත්වා)
१०. वयं सर्वदा संस्कृतं ............... । भाष् (අපි සැමදා සංස්කෘත කථාකරමෝවා)

## විධිසම්භාවනාර්ථ විධිලිඞ් (පරස්මෛපද)

විධානය හා සම්භාවනා යන අරුත් සඳහා මෙය යෙදේ. විධි යනු විධානය යි. සම්භාවනා යනු වෙතොත් මැනවි, විය හැකියි යන අරුත් ප්‍රකාශ වීමයි. වර්තමානයට සමීප අනාගතකාලයට මෙය අයත් වේ.

ප්‍රත්‍යය සහ නිදර්ශන වරනැගීම

| | एक | द्वि | बहु | एक | द्वि | बहु |
|---|---|---|---|---|---|---|
| प्रथम | ईत् | ईताम् | ईयुः | भवेत् | भवेताम् | भवेयुः |
| मध्यम | ईः | ईतम् | ईत | भवेः | भवेतम् | भवेत |
| उत्तम | ईयम् | ईव | ईम | भवेयम् | भवेव | भवेम |

එහි සිංහල අර්ථය

| පුරුෂ | ඒකවචන | ද්විවචන | බහුවචන |
|---|---|---|---|
| ප්‍රථමපුරුෂ | වන්නේ නම් මැනවි | (දෙදෙන) වන්නාහ නම් මැනවි | වන්නාහ නම් මැනවි |
| මධ්‍යමපුරුෂ | වන්නෙහි නම් මැනවි | (දෙදෙන) වන්නෙහු නම් මැනවි | වන්නෙහු නම් මැනවි |
| උත්තමපුරුෂ | වන්නෙමි නම් මැනවි | (දෙදෙන) වන්නෙමු නම් මැනවි | වන්නෙමු නම් මැනවි |

## විධිසම්භාවනාර්ථ විධිලඞ් (ආත්මනේපද)

ප්‍රත්‍යය සහ නිදර්ශන වරනැගීම

| | एक | द्वि | बहु | एक | द्वि | बहु |
|---|---|---|---|---|---|---|
| प्रथम | ईत | ईयाताम् | इरन् | पचेत | पचेयाताम् | पचेरन् |
| मध्यम | ईथाः | ईयाथाम् | ईध्वम् | पचेथाः | पचेयाथाम् | पचेध्वम् |
| उत्तम | ईय | ईवहि | ईमहि | पचेय | पचेवहि | पचेमहि |

එක ම වාක්‍යය ලට්, ලෘට්, ලඞ්, ලෝට්, ලඞ් යන ලකාරයන්හි යෙදෙන ආකාරය හඳුනා ගනිමු.

लट् - बालकः पुस्तकं पठति । (ළමයා පොත හදාරයි.)

लृट् - बालकः पुस्तकं पठिष्यति । (ළමයා පොත හදාරන්නේ ය.)

लङ् - बालकः पुस्तकम् अपठत् (ළමයා පොත හැදෑරුවේ ය.)

लोट् - बालकः पुस्तकं पठतु । (ළමයා පොත හදාරාවා)

लिङ् - बालकः पुस्तकं पठेत् । (ළමයා පොත හදාරන්නේ නම් මැනවි.)

## ක්‍රියාකාරකම 02

01. පහත දක්වා ඇති ලට් ලකාර වාක්‍යය ඉදිරිපත් කළ විට ලෝට් සහ විධිලිඞ් වාක්‍ය මතකයෙන් කීමට පුරුදු වන්න.

| लट् | लोट् | लिङ् |
|---|---|---|
| १. माता भक्तं पचति ।<br>(මව බත් පිසයි) | १. माता भक्तं पचतु ।<br>(මව බත් පිසාවා) | १. माता भक्तं पचेत् ।<br>(මව බත් පිසන්නේ නම් මැනවි) |
| २. सेवकः वस्त्राणि क्षालयति ।<br>(සේවකයා වස්ත්‍ර සෝදයි) | २. सेवकः वस्त्राणि क्षालयतु ।<br>(සේවකයා වස්ත්‍ර සෝදාවා) | २. सेवकः वस्त्राणि क्षालयेत् ।<br>(සේවකයා වස්ත්‍ර සොදන්නේ නම් මැනවි) |
| ६. सा विद्यालयं गच्छति ।<br>(ඈ විදුහලට යයි) | ६. सा विद्यालयं गच्छतु ।<br>(ඈ විදුහලට යේවා) | ६. सा विद्यालयं गच्छेत् ।<br>(ඈ විදුහලට යන්නේ නම් මැනවි) |
| ४. बालकः गृहं गच्छति ।<br>(ළමයා ගෙදර යයි) | ७. बालकः गृहं गच्छतु ।<br>(ළමයා ගෙදර යේවා) | ७. बालकः गृहं गच्छेत् ।<br>(ළමයා ගෙදර යන්නේ නම් මැනවි) |
| ५ दारकाः फलानि खादन्ति ।<br>(දරුවෝ ගෙඩි කති) | ४. दारकाः फलानि खादन्तु ।<br>(දරුවෝ ගෙඩි කත්වා) | ४. दारकाः फलानि खादेयुः ।<br>(දරුවෝ ගෙඩි කන්නාහ නම් මැනවි) |

| | | |
|---|---|---|
| ६. बालिकाः गीतं गायन्ति ।<br>(බාලිකාවෝ ගීයක් ගයත්) | ५. बालिकाः गीतं गायन्तु ।<br>(බාලිකාවෝ ගීයක් ගයාවා) | ५. बालिकाः गीतं गायेयुः ।<br>(බාලිකාවෝ ගීයක් ගායනා කරන්නාහු නම් මැනවි.) |
| ७. सैनिकाः देशं रक्षन्ति ।<br>(සෙබළු රට රකිති) | ६. सैनिकाः देशं रक्षन्तु ।<br>(සෙබළු රට රකිත්වා) | ६. सैनिकाः देशं रक्षेयुः ।<br>(සෙබළු රට රකින්නාහු නම් මැනවි.) |
| ८. त्वं गुरुं नमसि ।<br>(ඔබ ගුරුවරයා නමදිහි) | ८. त्वं गुरुं नम ।<br>(ඔබ ගුරුවරයා නමදින්න) | ८. त्वं गुरुं नमेः ।<br>(ඔබ ගුරුවරයා නමදින්නෙහි නම් මැනවි.) |
| ९ यूयं चित्रं पश्यथ ।<br>(නුඹලා චිත්‍රය බලහු) | ९ यूयं चित्रं पश्यत ।<br>(නුඹලා චිත්‍රය බලව්) | ९ यूयं चित्रं पश्येत ।<br>(නුඹලා චිත්‍රය බලන්නාහු නම් මැනවි.) |
| १०. वयं दुग्धं पिबामः ।<br>(අපි කිරි බොමු) | १०. वयं दुग्धं पिबाम ।<br>(අපි කිරි බොමුමෝවා) | १०. वयं दुग्धं पिबेम ।<br>(අපි කිරි බොන්නෙමු නම් මැනවි.) |

## අභ්‍යාසය 06

01. විධිලිඞ් ලකාර පරස්මෛපද ක්‍රියාරූපවලින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

१. अहं पुस्तकं ............... । पठ् ( මම පොත හදාරන්නෙමි නම් මැනවි.)

२. बालिका नगरं ............... । गम् ( බාලිකාව නගරයට යන්නී නම් මැනවි.)

३. छात्राः उद्याने ............... । क्रीड् (ශිෂ්‍යයෝ උයනෙහි ක්‍රීඩා කරන්නෙහු නම් මැනවි.)

४. अहं संस्कृतभाषायां कोविदः ............... । भू ( මම සංස්කෘත භාෂාවෙහි දක්ෂයෙක් වන්නෙමි නම් මැනවි.)

५ बालकः गीतं ............... । गै ( ළමයා ගීයක් ගායනා කරන්නේ නම් මැනවි.)

६. त्वं साधुः............... । भू ( ඔබ සත්පුරුෂයෙක් වන්නෙහි නම් මැනවි.)

७. आवां गृहे ............... । वस् ( අපි දෙදෙනා ගෙදර වාසය කරන්නෙමු නම් මැනවි.)

९. वयं याचकाय अन्नं ............... । दा ( අපි යාචකයාට කෑම දෙන්නෙමු නම් මැනවි.)

१०. चोरः सत्यं ............... । वद् ( සොරා සත්‍යය කියන්නේ නම් මැනවි.)

## අභ්‍යාසය 07

01. හිස්තැන් පුරවන්න.

| पुरुष वचन | लट् | लङ् | लोट् |
|---|---|---|---|
| प्र. पुरुष - एक | करोति | | कुर्यात् |
| म. पुरुष - एक | तिष्ठसि | | |
| उ. पुरुष - एक | | | पिबेयम् |
| म. पुरुष - बहु | लिखथः | | लिखेत |
| प्र. पुरुष - बहु | | लिखन्तु | |
| उ.पुरुष - द्वि | धावावः | | |
| प्र. पुरुष - द्वि | | | वसेताम् |
| उ. पुरुष - बहु | | वसाम | |

## सदैव पुरतो निधेहि चरणम् ।

चल चल पुरतो निधेहि चरणम्।
सदैव पुरतो निधेहि चरणम्॥

गिरिशिखरे ननु निजनिकेतनम्।
विनैव यानं नगारोहणम्।
बलं स्वकीयं भवति साधनम्।
सदैव पुरतो ............... ॥
पथि पाषाणा विषमाः प्रखराः।
हिंस्राः पशवः परितो घोराः॥
सुदुष्करं खलु यद्यपि गमनम्।
सदैव पुरतो ................ ॥
जहीहि भीतिं भज भज शक्तिम्।
विधेहि राष्ट्रे तथाऽनुरक्तिम्॥
कुरु कुरु सततं ध्येय-स्मरणम्।
सदैव पुरतो ................ ॥

रचकः- श्रीधरभास्कर वर्णकरः

### පෙරට ම යන්න දිරිය ගන්න

යනු මැන යනු මැන පෙර මග බලමින්
පෙරට ම යනු සැමදා පා තබමින්

ඔබෙ නිවහන කඳු මුදුනේ යහතින්
එහි යාමට යානා නොම සොයමින්
ඔබේ දෙපා වාරුව ගැන සිතමින්
යනු මැන යනු මැන පෙර මග බලමින්..//

නැත යන මග පාවඩ බුමුතුරුණු
ඇත උල් කටු වන සිවු පා දරුණු
දුෂ්කර බව කීමට ඇත කරුණු
යනු මැන යනු මැන පෙර මග බලමින්..//

බිය දුරු කර සිත දිරිය වඩන්න
සැමවිට දි ම රට දැය සුරකින්න
කළයුතු දේ නිති ඉටු කරලන්න
යනු මැන යනු මැන පෙර මග බලමින්..//
පෙරට ම යනු සැමදා පා තබමින්..//

අන්තර්ජාලයට පිවිස මේ ගීතය ශ්‍රවණය කළ හැකි ය.

web:- 8th-4_1 NCERT Ruchira 8th Bhaag-3

## අභ්‍යාසය 08

01. ඉහත ගීතයෙහි ඇති පහත සඳහන් ලෝට් ලකාර ක්‍රියාපදයන්හි පුරුෂ, වචන හා තේරුම ලියන්න.

चल धेहि देहि भज कुरु

गतं न शोचामि कृतं न मन्ये ।
ගතං න ශෝචාමි කෘතං න මන්‍යෙ
ගිය දේ ගැන ශෝක නො කරමි. කළ දේ ගැන නො සිතමි.

चक्रवत्परिवर्तन्ते दुःखानि च सुखानि च ।
චක්‍රවත්පරිවර්තන්තේ දුඃඛානි ච සුඛානි ච
සැප දුක් දෙක චක්‍රයක් මෙන් කැරකේ.

चिन्तासमं नास्ति शरीरशोषणम् ।
චින්තාසමං නාස්ති ශරීරශෝෂණම්
සිතිවිලි හා සමාන සිරුර වියළවන දෙයක් නැත.

07
පාඩම
सप्तमः पाठः।

# वर्धनाद्रक्षणं श्रेयः।

तद्यावन्न कश्चिद्वक्ति तावच्छीघ्रं गम्यताम्।

යටින් ඉරි ඇඳි පද විසන්ධි කරමු.

तद्यावन्न - तत् + यावत् + न
कश्चिद्वक्ति - कश्चित् + वक्ति
तावच्छीघ्रं - तावत् + शीघ्रं ලෙස ඒවා විසන්ධි කළ හැකි ය.

මෙහි දී ව්‍යඤ්ජන අක්‍ෂර දෙකක් එකට එකතු කිරීම සිදු වේ. ඒ නිසා ව්‍යඤ්ජන සන්ධි නමින් හැඳින් වේ. මෙ සන්ධි කාර්යයේ දී මුල් පදයේ අග අක්‍ෂරය ව්‍යඤ්ජනයක් වීම අනිවාර්යය වේ.

01. तत् + यावत् හා कश्चित् + वक्ति යන තැන්හි අඝෝෂ වර්ණයන්ට ඝෝෂාදේශය සිදු වී ඇත.

| तत् + यावत् | कश्चित् + वक्ति | අඝෝෂ + ස්වර,ඝෝෂ | चप + अब |
|---|---|---|---|
| ↓ | ↓ | ↓ | ↓ |
| द् | द् | ඝෝෂ | जब |

## අභ්‍යාසය 01

- පහත උද්ධෘතයන්හි යට ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. तदेतान्पश्यतो मे महदपि राज्यं न सौख्यमावहति।
२. तद्यथानुश्रूयते।

३. तदेतेषां यथा बुद्धिप्रकाशो भवति।

४. किञ्चिदर्थेण प्रयोजनम्।

५. कदाचिद्रात्रौ शय्यारूढस्य तस्य चिन्ता समुत्पन्ना।

६. न हि तद्विद्यते किंचिद्यदर्थेन न सिद्धयति। - यत्नेन मतिमांस्तस्मादर्थमेकं प्रसाधयेत्॥

७. पूज्यते यदपूज्योऽपि यदगम्योऽपि गम्यते।

८. एतदेवात्र पाण्डित्यं यत्स्वल्पाद्भूरिरक्षणम्।

९. स्वामिना यद्यवज्ञा क्रियते- तदप्ययुक्तम्।

१०. यद्भवताभिहितं तदेव मया कर्तव्यम्।

- පහත සඳහන් විසන්ධි පද සන්ධි කරන්න.

වाक् + यथा, वाक् + विद्या, प्राक् + एव, षट् + अत्र, अच् + अन्त
तत् + धनलुब्धः, यत् + वत्पुत्रेण, यत् + वृत्तं, तत् + प्राक् + एव

02. षण्मासाभ्यन्तरे तव पुत्रान्नयशास्त्रं प्रत्यनन्यसदृशान्न करिष्यामि।

षट् + मासाभ्यन्तरे
↓
ण्

| चप + ञम |
|---|
| ↓ |
| ञम |

## අභ්‍යාසය 02

- පහත උද්ධෘතයන්හි යට ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. तन्न युक्तम्।

२. तन्नाम किम् इति वदतु।

३. षण्नराः अत्रागतवन्तः।

४. तस्मान्नरेभ्यो उपकारं कुरु।

५. वाङ्माधुर्यं दण्डिनः प्रशंसनीयम्।

६. तन्नेत्रं स्फुरति।

03. कस्यचिच्छिल्पिनोऽर्धस्फटितोऽञ्जनवृक्षदारुमयः स्तम्भः स्थापितवान्।

कस्यचित् + शिल्पिनो

↓

श् + इ

↓

छ्

> चप + अम
>
> चप + श् + अव
>
> ↓
>
> छ् හෝ ज्

• පහත උද්ධෘතයන්හි යට ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. न सा विद्या न तद्दानं न तच्छिल्पं न सा कला ।

२. यत्रैकेन च यत्क्रीतं तच्छतेन प्रदीयते।

३. तच्छ्रुत्वा सार्थवाहोऽतीव दुःखमग्नः।

४. शूद्रको नाम राजा मृच्छकटिकं नाम प्रकरणं कृतवान्।

04. पटुतर इति अतिशयार्थतद्धितपदं भवति।

तत् + हित

तत् + ह् + इत

तद् + ध् + इत

तद्धित

> चप + ह
>
> ↓
>
> झभ
>
> च > झ
>
> ट > ठ
>
> त > थ
>
> क > घ
>
> प > भ

• तत् + हविः, वाक् + हरिः, ककुप् + हासः, एतत् + हि, षट् + हरिणः යන පද යථෝක්ත නිර්දේශයන්ට අනුව සන්ධි කරන්න.

05.

| | |
|---|---|
| i. त् + च छ ज झ ञ<br>↓<br>च् හෝ ज् | |

| | |
|---|---|
| ii. स् + श्<br>↓<br>श् | උදා:- : कस् + शूरः = कश्शूरः |

- පහත උද්ධෘතයන්හි යට ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. अन्यच्च ।

२. तच्च वाणिज्यं सप्तविधमर्थागमाय स्यात् ।

३. कस्माच्चिराद्दृष्टोऽसि ।

४. स्वस्थानाच्चलितकीलकेन ।

५. जायन्ते विरला लोके जलदा इव सज्जनाः ।

६. तत्त्वज्जानामि कस्यायं शब्दः ।

- පහත සඳහන් විසන්ධි පද සන්ධි කරන්න.

तत् + छिनत्ति, तत् + जायते, तत् + जलम् , तत् + चित्रम् ,यत् + जीव्यते

06.

| | |
|---|---|
| i. स् + ष्<br>↓<br>ष् | උදා:-<br>कस् + षष्ठः = ............................ |

| | |
|---|---|
| ii. तवर्ग + टवर्ग<br>↓<br>टवर्ग | උදා:-<br>तत् + टीका = ............................<br>तत् + डयनम् = ............................ |

07. तल्लिख्यतामद्यतनो दिवसः।

| | |
|---|---|
| i. त् (तवर्ग) + ल<br>↓<br>ल् | උදා:<br>तत् + लब्धम् = ..........................<br>तत् + लुनाति = .......................... |

08. कस्मिंश्चिन्नगराभ्यासे केनापि वणिक्पुत्रेण तरुषण्डमध्ये देवतायतनं कर्तुमारब्धम्।

कस्मिन् + चित्
कस्मिं + श् + चित्
कस्मिंश्चित्

| |
|---|
| न् + स् + (त थ)<br>↓<br>श् + (च छ)<br>ष् (ट ठ)<br>ं |

## අභ්‍යාසය 04

- ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. अथ भवांस्तत्र तत्र किं वक्ष्यति।

२. पुनरेतांस्तव पुत्रान्मासषट्केन यदि नीतिशास्त्रज्ञान्न करोमि।

- විසන්ධි පද සන්ධි කරන්න.

भवान् + तनोति, मतिमान् + तत्र, स्फुरन् + तत्,

हसन् + चकार, पाशान् + छेत्तुम्, चलन् + टिट्टिभिः, पतन् + तरुः

09.

| |
|---|
| न् + ज / झ / श<br>↓<br>ञ् |

* පහත උද්ධෘතයන්හි යට ඉරි ඇඳි පද විසන්ධි කරන්න.

१. अथ राजा ताञ्शास्त्रविमुखानालोक्य सचिवानाहूय प्रोवाच ।

२. यस्मिञ्जीवति जीवन्ति बहवः सोऽत्र जीवतु ।

३. ताञ्शार्दूलान् आदाय तत्रागतोऽस्मि ।

10.

| | |
|---|---|
| ह्रस्वस्वर , ( ङ् ण् न् ) + स्वर<br>↓<br>द्वित्व | प्रत्यङ् + इदम् - ..............................<br>सुगण् + इह - ..............................<br>राजन् + इह - .............................. |

11.

| | |
|---|---|
| i. ह्रस्व + छ<br>↓<br>द्वित्व | උදා:-<br>तव + छाया = ..............................<br>मम + छत्रम् = .............................. |

| | |
|---|---|
| ii. दीर्घ + छ<br>↓<br>द्वित्व | උදා:-<br>आ + छादयति - ............................<br>मा + छिदम् - ............................<br>ह्री + छः - ............................<br>लक्ष्मी + छाया - ............................ |

०१. चपा अबे जबाः
०२. ञमे ञमा वा
०३. चपाच्छः शः
०४. हो झभाः
०५. स्तोः श्चुभिः श्चुः
०६. ष्टुभिः ष्टुः
०७. तोर्लिलः
०८. नः सक् छते

जलबिन्दुनिपातेन क्रमशः पूर्यते घटः।
ජලබින්දු නිපාතේන ක්‍රමසඃ පූර්යතේ ඝටඃ
දිය බිඳුවැටීමෙන් ක්‍රමයෙන් කළය පිරේ.

जितक्रोधेन सर्वं हि जगज्जीयते।
ජිතක්‍රෝධේන සර්වං හි ජගජ්ජීයතේ
ක්‍රෝධය දිනූ තැනැත්තා ලොව ම දිනයි.

ज्ञानलवदुर्विदग्धं ब्रह्मापि नरं रञ्जयति।
ඥානලවදුර්විදග්ධං බ්‍රහ්මාපි නරං න රඤ්ජයති
නුවණ නැති මෝඩයා සතුටු කිරීමට බ්‍රහ්මයාට ද නොහැකි ය.

08
පාඩම
अष्टमः पाठः।

# सर्वमुत्पादि भङ्गुरम्।

अयं गजः। अयम् अजः।

මේ වාක්‍ය දෙකෙහි අනුස්වාරය ස්වරූප දෙකකින් තිබේ. පළමු වාක්‍යයේ අනුස්වාරය යෙදී ඇත. දෙවන වාක්‍යයෙහි අනුස්වාරය म् වී ඇත. අනුස්වාරයට පසුව ව්‍යඤ්ජනාක්ෂරයක් යෙදේ නම් අනුස්වාරය වෙනස් නොවේ. ස්වරයක් ඇති විට म् බවට පත් වේ.

01.

| | |
|---|---|
| म् + हस<br>↓<br>ं | तम् + हसति = ..................................... |
| | ताम् + पश्यति = ..................................... |
| | किम् + वदति = ..................................... |
| | सत्यम् + वद = ..................................... |
| | धर्मम् + चर = ..................................... |

02.

| | |
|---|---|
| ं + स्वर<br>↓<br>म् | किं + अस्ति = ..................................... |
| | किं + अत्र = ..................................... |
| | त्वं + आगतः = ..................................... |
| | फलं + आदाय = ..................................... |
| | किं + इति = ..................................... |

03.

| | |
|---|---|
| ं + क च ट त प<br>↓<br>तत् वर्गान्तादेशः | सं + चार = ......................... |
| | तं + जानाति = ......................... |
| | सं + मान = ......................... |

වර්ග අක්ෂරයක් නොමැති විට පහත පරිදි ද්විත්ව වේ.

सं + यन्ता = सँय्यन्ता

सं + वत्सरः = सँवत्सरः

यं + लोकम् = यँल्लोकम्

04. සාමාන්‍යයෙන් පාදාන්තයෙහි අනුස්වාරය නොතැබේ. म् ලෙස තැබේ.

- පළමු උදාහරණ (නාමයක අග)

  देवम्
  लोकम्
  गृहम्
  फलम्
  पुष्पम्

- දෙවන උදාහරණ (ශ්ලෝකයක අග)

  राजेति कियती मात्रा धीगतामप्रमादिनाम् ।
  राजानमेव संश्रित्य विद्वान्याति परां गतिम् ॥

- තෙවන උදාහරණ (වාක්‍යක අග)

  यत्त्वयाभिहितं तत् सत्यम् ।
  यच्छब्दमात्रादपि भयमुपगतः स्वामी तदप्ययुक्तम् ।

## අභ්‍යාසය 01

- පහත උද්ධෘතයන්හි සන්ධිපද (ව්‍යඤ්ජන හා අනුස්වාර) විසන්ධි කරන්න.

१. तच्छ्रुत्वा चतुरकः किंचिद्वानरं गत्वा सत्वरमभ्युपेत्य प्रोवाच ।

२. भद्र किमेवं मां व्याकुलयसि तत् कथय किमेतत् इति ।

३. अहो किमेतन्मया कृतम् ।

४. यच्छष्पादोऽपि मांसाशिनस्तस्यानुगः संवृत्तः ।

५. कदाचिन्मां शरणागतं रक्षति ।

६. यद्भावि तद्भावि नात्र विचारहेतुः ।

७. तद्यदि काचिच्छक्तिरस्ति तद्विचिन्त्यतां विनिपातप्रतीकारः ।

८. न कथंचिच्छान्तिमगमत् ।

९. नैतस्माच्छीतरक्षा भविष्यति ।

१०. तद्गत्वा तत्र स्थाने किंचिन्मात्रं धनमानयावः ।

- පහත උද්ධෘතයන්හි යටින් ඉරි ඇඳි විසන්ධිපද සන්ධි කරන්න.

१. किम् क्वचित् श्येनो बलम् हर्तुम् शक्नोति ।

२. राजन् तत्र हरेत् श्रेष्ठिनो बालकम् नात्र संशयः ।

३. यत् श्वापदानाम् मध्ये कश्चित् राजा नास्ति ।

४. तत् कथ्यताम् तत् रक्षार्थम् कश्चित् उपायः ।

५. किं एवं शीलखण्डनम् कृतं ।

६. तत् देवः प्रमाणं ।

७. वयस्य यत् किंचित् दुःखकारणम् तत् वद ।

८. भद्र यद्येवम् तत् अर्पय मे हृदयम् येन सा ।

९. तत् ममैतत् अद्य पुनर्जन्मदिनं इव संजातं ।

१०. एतत् एव हि पाण्डित्यम् यत्स्वल्पात् भूरिरक्षणं ।

ज्ञानस्याभरणं क्षमा ।
ඥානස්‍යාභරණං ක්‍ෂමා
ඉවසීම නුවණට ආභරණයකි.

त्यजन्त्युत्तमसत्वा हि प्राणानपि न सत्पथम् ।
ත්‍යජන්ත්‍යුත්තමසත්වා හි ප්‍රාණානපි න සත්පථම්
උත්තමයෝ ජීවිතය අත්හළත් සුමග අත් නොහරිත්.

दुग्धधौतोऽपि किं याति वायसः कलहंसताम् ।
දුග්ධධෞතෝ'පි කිං යාති වායසඃ කලහංසතාම්
කපුටා කිරිවලින් සේදුවත් කලහංසයෙක් වේද?

09
පාඩම
नवमः पाठः ।

# जगतः पितरौ वन्दे ।

देवानां लोकः - देवलोकः
वने वासः - वनवासः
प्रति वाचं - प्रतिवाचम्

सुभिक्षम् , अनुदिनम् , त्रिविद्या, नवरात्रम्
फलमूलानि, वृक्षलता, कुष्ठरोगा, राजधर्मः

වෙන් ව ඇති පද කිහිපයක් එකතු කර ලිවීමෙන් භාෂාවට ලැබෙන ප්‍රයෝජන රාශියකි. ඒ බව ඉහත සඳහන් නිදසුන් තුළින් මනාව තහවුරු වේ. එම නිසා පද දෙකක් හෝ කිහිපයක් එකතු කරලීම සඳහා සමාස නම් ව්‍යාකරණාංගය යෙදේ. එය මැනවින් හඳුනා ගැනීම සඳහා කොටස් හයකට බෙදා වෙන් කර ඇත. එනම්,



## ද්වන්ද්ව සමාසය

| සිංහල | සංස්කෘත |
| --- | --- |
| ඉර ද හඳ ද - ඉරහඳ | स्त्री च पुरुषश्च - स्त्रीपुरुषौ |
| ගස් ද වැල් ද - ගස්වැල් | पटुश्च गुप्तश्च - पटुगुप्तौ |
| මව් ද පිය ද - මව්පිය | अर्थश्च धर्मश्च - अर्थधर्मौ |
| ගුණ ද නුවණ ද - ගුණනුවණ | श्रमणश्च ब्राह्मणश्च - श्रमणब्राह्मणौ |
| ඉර ද සඳ ද තාරකා ද - ඉරසඳතාරකා | शशाश्च कुशाश्च पलाशाश्च - शशकुशपलाशाः |

ඉහත නිදසුන් තුළින් පෙන්වා දෙන්නේ වෙන් ව ඇති පද කිහිපයක් එකට එක් කිරීමයි. එහි දී පද දෙකක් එකට එක් කිරීමක් මෙන් ම පද තුනක් හෝ ඊට වඩා වැඩි ගණනක් එකට එක් කිරීමක් ද කළ හැකි ය. එසේ පද කෙටි කිරීමේ දී 'च' නිපාතය භාවිත වන බැවින් මෙම සමාසය 'ද්වන්ද්ව' සමාසය නමින් හැඳින්වේ.

ගුරුවරයාගේ උපදෙස් මත පහත පද එකට එක් වීම හඳුනාගනිමු.

### අභ්‍යාසය 01

| | | |
| --- | --- | --- |
| मेधा | | रामः |
| ज्ञानम् | | लता |
| शिष्यः | | प्रज्ञा |
| उष्णम् | | बकाः |
| वृक्षः | च | गुरुः |
| शशकः | | शीतम् |
| काञ्चनम् | | सिंहः |
| काकाः | | मणिः |
| लक्ष्मणः | | क्षुधा |
| तृष्णा | | गुण |

'च' අර්ථ සම්බන්ධ වී පද දෙකක් එකට එකතු වීමේ දී
ප්‍රථමා විභක්ති ද්විවචන වීම සාමාන්‍ය ලක්ෂණයයි.

०१. रामश्च लक्ष्मणश्च - रामलक्ष्मणौ
०२. ......................................... - .........................................
०३. ......................................... - .........................................
०४. ......................................... - .........................................
०५. ......................................... - .........................................
०६. ......................................... - .........................................
०७. ......................................... - .........................................
०८. ......................................... - .........................................
०९. ......................................... - .........................................
१०. ......................................... - .........................................

ගුරුවරයාගේ උපදෙස් මත පහත පද එකට එක් වීම හඳුනාගනිමු.

## අභ්‍යාසය 02




පද තුනක් හෝ ඊට වඩා වැඩි සංඛ්‍යාවක් සහිත පද එක් කිරීමේ දී
බහුවචන ගැනීම සාමාන්‍ය ලක්ෂණයකි.

01. ඉහත කොටුවල ඇති පද එක් කොට සමාස පද සකසන්න.

०१. ........................................- ........................................

०२. ........................................- ........................................

०३. ........................................- ........................................

०४. ........................................- ........................................

०५. ........................................- ........................................

අව්‍යයීභාව සමාසය




පදයකට මුලින් උපසර්ග පදයක් හෝ නිපාත පදයක් එකතු වී

සෑදෙන සමාසය අව්‍යයීභාව සමාසය නම් වේ.

මෙම සමාසය නපුංසක ලිංගවීම අනිවාර්ය වේ.

## අභ්‍යාසය 03

01. වර්ණ උපකාරයෙන් අව්‍යය සමාස පද සකසමු.




०१. ........................................ ०२ ........................................

०३. ........................................ ०४. ........................................

०५. ........................................ ०६. ........................................

०७. ........................................ ०८. ........................................

## අභ්‍යාසය 04

01. පහත සඳහන් අව්‍යය සමාස පදවල ඇති උපසර්ග යටින් ඉරක් අඳින්න.

१. निर्जलम्

२. अनुगुणम्

३. यथाबलम्

४. प्रतिवर्षम्

५. सबलम्

६. सभानु

७. निर्दोषम्

८. यथेष्टम्

९. उपगुरु

१०. प्रतिदिनम्

दुर्लभः स गुरुर्लोके शिष्यचित्तापहारकः ।

දුර්ලභඃ ස ගුරුර්ලෝකේ ශිෂ්‍යචිත්තාපහාරකඃ

ශිෂ්‍යයන්ගේ සිත්ගන්නා වූ ගුරුවරයා ලොව දුලබ ය.

न कूपखननं युक्तं प्रदीप्ते वह्निना गृहे ।

න කූපඛනනං යුක්තං ප්‍රදීප්තේ වහ්නිනා ගෘහේ

ගෙය ගිනිගත් කල්හි ළිඳ හෑරීම සුදුසු නොවේ.

10
පාඩම
दशमः पाठः।

# त्यज दुर्जनसंसर्गः।

තත්පුරුෂ සමාසය

**තත්පුරුෂ සමාසය**

**ද්විතීයා**

दुःखम् आपन्नः - दुःखापन्नः
नगरम् गतः - नगरगतः

**තෘතීයා**

राज्ञा हतः - राजहतः
नेत्रेण हीनः - नेत्रहीनः

**චතුර්ථී**

चीवराय वस्त्रम् - चीवरवस्त्रम्
गुरवे दक्षिणा - गुरुदक्षिणा

**පඤ්චමී**

चोरात् भयम् - चोरभयम्
स्वर्गात् पतितः - स्वर्गपतितः

**ෂෂ්ඨී**

देवानां लोकः - देवलोकः
दुर्जनस्य संसर्गः - दुर्जनसंसर्गः

**සප්තමී**

कार्ये दक्षः - कार्यदक्षः
वने वासः - वनवासः

සමාස යනු පද කෙටි කිරීමක් බව ඉහත දී අපි හැදෑරුවෙමු. එම ක්‍රමයට අනුව ඉහත සඳහන් මල් පෙතිවල ඇති පද එක් වී ඇත්තේ කිසියම් රටාවකට ය. එය අධ්‍යයනය කිරීමේ දී ප්‍රථමා හා ආලපන යන විභක්ති හැර සෙසු විභක්ති සහිත පදයක් මුලින් යෙදී පසු පදයක් සමග සමාස වීමේ දී විභක්ති ලක්‍ෂණය ඉවත් වී පද එක් වීම සිදු වී ඇත. එය තත්පුරුෂ සමාසයේ ලක්‍ෂණය යි.

**තත්පුරුෂ සමාස පද සාධනය ඉගෙනගනිමු.**

## අභ්‍යාසය 01

01. පහත සඳහන් සමාස විග්‍රයට ගැළපෙන සමාස පදය තෝරා ලියන්න.

०१. नरकं पतितः (नरकंपतितः / नरकपतितः) - ..........................

०२. बुद्धाय पूजा (बुद्धपूजा / बुद्धंपूजः) - ..........................

०३. मानस्य हानिः (मनंहानिः / मानहानिः) - ..........................

०४. कार्येषु कुशलः (कर्येन कुशलम् / कार्यकुशलः) - ..........................

०५. नयनयोः आनन्दः (नयनानन्दः / नयननन्दः) - ..........................

०६. काकेभ्यः बलिः (काकबलिः / काकबलिम् ) - ..........................

०७. सुखम् प्राप्तः (सुखप्राप्तः / सुखाप्राप्तम् ) - ..........................

०८. चिन्तया आकुलः (चिन्ताकुलम् / चिन्ताकुलः) - ..........................

०९. रक्षणस्य उपायः (रक्षणोपायः / रक्षणेनपायः) - ..........................

१०. बुद्धस्य धर्मं (बुद्धायधर्मं / बुद्धधर्मं) - ..........................

## අභ්‍යාසය 02

1. පහත සඳහන් සමාස පදවලට අදාළ විග්‍රහ වාක්‍ය සකසන්න.

०१. धर्मलक्षणम् ..........................................
०२. देवालयः ..........................................
०३. जलमग्नः ..........................................
०४. धर्मभ्रष्टः ..........................................
०५. वर्षपूर्वः ..........................................
०६. सूर्यप्रकाशः ..........................................
०७. विवेकहीनः ..........................................
०८. सुरापानम् ..........................................
०९. वृक्षमूलम् ..........................................
१०. धनसम्पन्नः ..........................................
११. राजभयम् ..........................................
१२. अनेकः ..........................................
१३. नखभिन्नः ..........................................
१४. विवेकरहिताः ..........................................

02. පහත රූපයේ ඇති තත්පුරුෂ සමාස පද නියමිත විභක්ති සහිත භාජනවලට බහාලන්න.

| | | | | |
|---|---|---|---|---|
| सूर्यकिरणः | देवबलः | कालातीतः | ग्रामनिर्गतः | कूपपतितः |
| गोहितम् | भूमिपतितानि | राजप्रसादः | परमचिन्तातुरः | राजपुत्रः |
| वृकभीतः | चक्रबन्धः | राजहतः | मित्रवरः | जीवलोकः |
| गुरोत्तमः | गृहापहतः | क्रीडोद्यानम् | गौरवार्थम् | बन्धनमुक्तः |




## අභ්‍යාසය 03

01. පහත සඳහන් සමාස කවර සමාස වර්ගයකට අයත්දැයි දක්වන්න.

| අනු අංක | සමාස පදය | අව්‍යයීභාව සමාස | තත්පුරුෂ සමාසය | ද්වන්ද්ව සමාසය |
|---|---|---|---|---|
| ०१ | अनुज्येष्ठम् | | | |
| ०२ | धर्माश्रितः | | | |
| ०३ | उपराजम् | | | |
| ०४ | अग्निमारुतेषु | | | |
| ०५ | अनुदिनम् | | | |
| ०६ | मित्रवरः | | | |
| ०७ | हस्तपादम् | | | |
| ०८ | राजपुत्रः | | | |
| ०९ | मद्यपानम् | | | |
| १० | स्त्रीपुरुषेषु | | | |
| ११ | सुभिक्षम् | | | |
| १२ | गौरवार्थम् | | | |
| १३ | कुलविनाशकम् | | | |
| १४ | सोपहासम् | | | |
| १५ | उपगिरम् | | | |

न च व्याधिसमो रिपुः ।

න ච ව්‍යාධිසමෝ රිපුඃ

රෝගය හා සමාන සතුරෙක් නැත.

न सुवर्णे ध्वनिस्तादृश्यादृक्वास्ये प्रजायते ।

න සුවර්ණේ ධ්වනිස්තාදෘශ්‍යාදෘක්වාස්‍යෙ ප්‍රජායතේ

පිත්තලවල හඬ වැනි හඬක් රත්තරංවල නැත.

नहि तापयितुं शक्यं सागराम्भस्तृणोल्कया ।

නහි තාපයිතුං ශක්‍යං සාගරම්භස්තෘණෝල්කයා

මුහුදු දිය තණහුලකින් රත් කළ නොහැකි ය.

11
පාඩම
एकादशः पाठः ।

# कीदृशी वाग्विदग्धता ?

සාමාන්‍ය නාමපදයන්ගේ අගට විශේෂ ප්‍රත්‍යයන් යොදා සාදාගනු ලබන විශේෂ නාමපදයෝ තද්ධිතයෝ වෙති. නොයෙක් අර්ථ දීම සඳහා ඒ ඒ නාමයන්ට හිතවත් වන බැවින් **(තත් + හිත)** තද්ධිත වශයෙන් මේවා හඳුන්වනු ලබයි. නාමයන්ගේ අගට එකතු කරනු ලද ප්‍රත්‍යය තුළින් මේවායේ අර්ථ ප්‍රකාශ වන බැවින් තද්ධිත නාමයන් ''**ප්‍රත්‍යාර්ථ නාම**'' වශයෙන් ද හැඳින්වේ.

තද්ධිත සාධනයේ දී නාමයන්ගේ අගට යෙදෙන ඇතැම් තද්ධිත ප්‍රත්‍යය ''**ඉත්**'' අකුරුවලින් ද යුක්ත වේ. එම ''ඉත්'' අකුරු අතරින් **ඤ්** හා **ණ්** කාරය ප්‍රත්‍යයන්ට යෙදී ඇති විට නාමයන්ගේ මුලින් ම පිහිටි ස්වරය වෘද්ධි බවට පත් වේ. අදාළ වෘද්ධි කාර්‍ය්‍ය සිදු කිරීමෙන් පසු එම ඉත් අකුරු ඉවත් වේ. පහත නිදසුන් දෙස හොඳින් බලන්න.

ස්වරයන්ගේ වෘද්ධි රූප



උදාහරණ :-

अ හට आ වීම

श्रमण + एरण्

श्रामण + एर (अ > आ)

श्रामण् + अ + एर (පූර්ව ස්වරය ලොප් වේ.)

श्रामणेर

इ හට ऐ වීම

विदेह + अण्

वैदेह + अ (इ > ऐ)

वैदेह् + अ + अ (පූර්ව ස්වරය ලොප් වේ.)

वैदेह

ई හට ऐ වීම

श्रीधर + इण्

श्रैधर + इ (ई > ऐ)

श्रैधर् + अ + इ (පූර්ව ස්වරය ලොප් වේ.)

श्रैधरि

ए හට ऐ වීම

रेवत + इकण्

रैवत + इक (ए > ऐ)

रैवत् + अ + इक (පූර්ව ස්වරය ලොප් වේ.)

रैवतिक

उ හට औ වීම

कुङ्कुम + अण्

कौङ्कुम + अ (उ > औ)

कौङ्कुम् + अ + अ (පූර්ව ස්වරය ලොප් වේ.)

कौङ्कुम

ऊ හට औ වීම

भूमि + अण्

भौमि + अ ( ऊ> औ)

भौमि + अ + अ (පූර්ව ස්වරය ලොප් වේ.)

भौम

ओ හට औ වීම

गोतम + अण्

गौतम+ अ (ओ > औ)

गौतम +अ + अ (පූර්ව ස්වරය ලොප් වේ.)

गौतम

ऋ හට आर् වීම

मृकण्डु + एयण्

मार्कण्डु + एय (ऋ > आर्)

मार्कण्ड् + उ + एय (පූර්ව ස්වරය ලොප් වේ.)

मार्कण्डेय

නූතන භාෂා භාවිතය අනුව තද්ධිත කොටස් අටකට (08) බෙදා දැක් වේ.

1. අපත්‍යාර්ථ තද්ධිතය
2. භාව තද්ධිතය
3. අස්ත්‍යර්ථ තද්ධිතය
4. සමූහාර්ථ තද්ධිතය
5. අතිශයාර්ථ තද්ධිතය
6. අනේකාර්ථ තද්ධිතය
7. සංඛ්‍යා තද්ධිතය
8. අව්‍යය තද්ධිතය

## I. අපත්‍යාර්ථ තද්ධිතය

| | | |
|---|---|---|
| ශ්‍රමණයාගේ පුතා | ගෝතමගේ පුතා | ශිවගේ පුතා |
| **श्रमणस्य अपत्यं** | **गोतमस्य अपत्यं** | **शिवस्य अपत्यं** |
| **श्रामणेरः** | **गौतमः** | **शैवः** |

අපත්‍ය යනු දරුවායි. "දරුව" යන අර්ථයෙහි හෙවත් පුත්‍රාර්ථයෙහි ෂෂ්ඨී විභක්ත්‍යන්ත නාමයන් කෙරෙන් " **अण्** " ආදි ප්‍රත්‍ය යොදා සාදාගනු ලබන්නේ අපත්‍ය තද්ධිතයයි. පද සාධනය පහත දක්වා ඇති උදාහරණ මගින් ඉගෙනගන්න.

උදාහරණ :-

अण् शिवस्य अपत्यं
शिव + अण्

इण् उद्दालकस्य अपत्यं
उद्दालक + इण्

**शैव** + अ (මූල ස්වරය වෘද්ධි වීමෙන් පසු)
**शैव्** + ~~अ~~ + अ (පූර්ව ස්වරය ලොප් කිරීම)
**शैव** > **शैवः** (විභක්ති යෙදීමෙන් පසු)
**शैवः** - ශිවගේ පුතා

**औद्दालक** + इ (මූල ස්වරය වෘද්ධි වීමෙන් පසු)
**औद्दालक्** + ~~अ~~ + इ (පූර්ව ස්වරය ලොප් කිරීම)
**औद्दालकि** > **औद्दालकिः** (විභක්ති යෙදීමෙන් පසු)
**औद्दालकिः** - උද්දාලකගේ පුතා

විශේෂයක්

**සියලු නාමයන්ගේ මූල ස්වර වෘද්ධිය වූ පසු අන්ත්‍ය ස්වරයක් ඇති විට එය ලොප් වේ.**

අපත්‍යාර්ථ තද්ධිතයේ යෙදෙන අනෙකුත් ප්‍රත්‍යය

यण्    आयनण्    ईयण्    एयण्    इनेयण्    आरण्    एरण्
ऐरण्    किण्

## අභ්‍යාසය 11.1

01. ඉහත දක්වන ලද පුත්‍රාර්ථයෙහි අනෙකුත් ප්‍රත්‍යයන් සමග යෙදෙන නාම පද පහතින් දක්වා ඇත. ඒවා ගුරුතුමාගේ සහාය ද ඇතිව ඉහත උදාහරණ අනුසාරයෙන් සාදන්න.

| | | | |
|---|---|---|---|
| १. यण् | - सोमस्य अपत्यम् | (සෝමගේ පුතා) | ........................................ |
| २. आयनण् | - चन्द्रस्य अपत्यम् | (චන්ද්‍රගේ පුතා) | ........................................ |
| ३. ईयण् | - गर्गस्य अपत्यम् | (ගර්ගගේ පුතා) | ........................................ |
| ४. एयण् | - अत्रेः अपत्यम् | (අත්‍රිගේ පුතා) | ........................................ |
| ५. आरण् | - गोधायाः अपत्यम् | (ගෝධාවගේ පුතා) | ........................................ |
| ६. एरण् | - नट्याः अपत्यम् | (නටීගේ පුතා) | ........................................ |
| ६. किण् | - व्यासस्य अपत्यम् | (ව්‍යාසගේ පුතා) | ........................................ |

## අභ්‍යාසය 11.2

01. ගුරුවරයාගේ සහාය ඇතිව පහත සඳහන් අපත්‍ය තද්ධිත පදයන් හා යෙදෙන නිවැරදි ප්‍රත්‍ය තෝරන්න.

| තද්ධිත පදය | නාම ප්‍රකෘතිය | | තද්ධිත පදයේ තේරුම |
|---|---|---|---|
| १. शौद्धोधन | शुद्धोधन | .............. (इण् / अण् / एयण्) | .............. ශුද්ධෝධනගේ පුතා |
| २. औपगव | उपगु | .............. (अण् / इण् / यण्) | .............. උපගුගේ පුතා |
| ३. श्रामणेर | श्रमण | .............. (इण् / आरण् / एरण्) | .............. ශ්‍රමණයාගේ පුතා (සාමණේර) |
| ४. पाण्डुर | पण्डु | .............. (आरण् / एरण् / आयनण्) | .............. පණ්ඩුගේ පුතා |
| ५. दाण्डिनायन | दण्डिन् | .............. (यण् / आयनण् / एयण्) | .............. දණ්ඩීගේ පුතා |

| | | | |
|---|---|---|---|
| ६. नैषादकि | निषाद | ............. (इण् / किण् / यण्) | ............. වැද්දාගේ පුතා |
| ७. औद्दालकि | उद्दालक | ............. (किण् / अण् / इण) | ............. උද්දාලකගේ පුතා |
| ८. कापेयः | कपि | ............. (ऐरण् / एरण् / यण्) | ............. වඳුරාගේ පුතා |

**II.** භාව තද්ධිතය

භාවාර්ථයෙහි ෂෂ්ඨී විභක්ත්‍යන්ත නාමයන් කෙරෙන් **ता / त्वा** ආදි ප්‍රත්‍යය යොදා තනාගනු ලබන්නේ "**භාව තද්ධිතයයි**" යම් කියවක පැවැත්මට හේතු වන කාරණය භාව නම් වේ.

භාව තද්ධිත ප්‍රත්‍යය 05 කි.

ता  त्व  यण्  डिमन्  अण्

**විශේෂයක්**

මෙහි **ता / डिमन्** ප්‍රත්‍යයාන්තයෝ ස්ත්‍රීලිංග වන අතර අනෙක්වා නපුංසක ලිංග වේ.

උදාහරණ :-

ता ब्राह्मणस्य भावः
ब्राह्मण + ता
ब्राह्मणता > ब्राह्मणता (ස්ත්‍රී) (බමුණු කම)

त्व देवस्य भावः
देव + त्व
देवत्व > देवत्वम् (නපුං)
(දේවත්වය)

यण् पण्डितस्य भावः
पण्डित + यण्
पाण्डित + य
पाण्डित्य > पाण्डित्यम् (නපුං) (පණ්ඩිත කම)

अण् पटोः भावः
पटु + अण्
पाटु + अ
पाटव > पाटवम् (නපුං)
(දක්ෂ බව)

डिमन्  लघोः भावः

लघु + डिमन्

लाघु + इमन्

लघिमन्  > लघिमा  (ස්ත්‍රී) (කෙටි බව)

විශේෂයක්

- ව්‍යඤ්ජනයක් මුලට ඇති **त्व** තද්ධිත ප්‍රත්‍යය පර කල්හි **न्** කාරාන්ත නාමයන්ගේ අග **न्** යන්න ලොප් වේ.

උදාහරණ:-

| | |
|---|---|
| राज्ञो + भावः | दण्डिनो + भावः |
| राजन् + त्व | दण्डिन् + त्व |
| राज + त्व (न् කාරය ලොප් වේ) | दण्डि + त्व (न् කාරය ලොප් වේ) |
| राजत्व >  राजत्वम् | दण्डित्व >  दण्डित्वम् |

- **डिमन्** ප්‍රත්‍යය පර කල්හි ව්‍යඤ්ජනයක් මුලට ඇති නාමයන්ගේ හ්‍රස්ව **ऋ** කාරය **र** කාර බවට පත් වේ.

උදාහරණ:

| | |
|---|---|
| कृशस्य + भावः | मृदोः + भावः |
| कृश + डिमन् | मृदु + डिमन् |
| क्रश + इमन् | म्रद् + इमन |
| क्रशिमन् > क्रशिमा (ස්ත්‍රී) (කෙට්ටු බව) | म्रदिमन् > म्रदिमा (ස්ත්‍රී) (මොළොක් බව) |

## අභ්‍යාසය 11.3

1. පහත සඳහන් වාක්‍යවල ඇති භාව තද්ධිත පද උපුටා දක්වන්න.

१. मूर्खस्य प्रज्ञा अणिमा ।

२. किं कुत्रास्ति भोः सौमनस्यं ।

३. लोभिनः दानं लघिमा ।

४. सुकृतोऽपि परात्मरणं याति देवत्वम् ।

५. बुद्धस्य चरिते क्लिष्टता नास्ति ।

६. श्रुतो हितोपदेशोऽयं पाटवं संस्कृतोक्तिषु ।

७. कविषु कालिदासस्य कवित्वं अतिविशिष्टम् ।

८. शरीरस्य कृशता आरोग्यतायै न योग्यं भवति ।

९. अजातशत्रुः पितरं घातयित्वा राजत्वं प्राप्नोत् ।

१०. यस्य नेतुः आर्जवं नास्ति तस्य व्यक्तित्वं न भवेत् ।

2. ඉහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

3. තවත් මෙවැනි භාවාර්ථ තද්ධිත පද (අවම වශයෙන් 10 ක්වත්) එකතු කරන්න.

**අභ්‍යාස සඳහා උපකාරක පද**

मूर्खस्य - මෝඩයාගේ

अणिमा - කුඩා බව

सौमनस्यम् - සොම්නස් බව

लोभिनः - ලෝභියාගේ

लघिमा - සැහැල්ලු බව

परात्मरणं - මරණින් පසු

| | |
|---|---|
| सुकृतो | - යහපත කරන්නා / පිංකරන්නා |
| क्लिष्टता | - කිළිටි බව |
| कृशता | - කෙට්ටු බව |
| संस्कृतोक्तिषु | - සංස්කෘත වාක්‍ය ප්‍රයෝගයන්හි |
| आरोग्यतायै | - නීරෝගී බව සඳහා |
| घातयित्वा | - ඝාතනය කොට |
| नेतुः | - නායකයාගේ |
| आर्जवम् | - ඍජු බව |
| व्यक्तित्वं | - පෞරුෂත්වය |

**नहि कृतमुपकारं साधवो विस्मरन्ति ।**
නහි කෘතමුපකාරං සාධවෝ විස්මරන්ති
සත්පුරුෂයෝ කළගුණ අමතක නොකරති.

**नासमीक्ष्य परं स्थानं पूर्वमायतनं त्यजेत् ।**
නාසමීක්ෂ්‍ය පරං ස්ථානං පූර්වමායතනං ත්‍යජේත්
වෙනත් තැනක් නොසොයා මුල් තැන අත් නොහළ යුතුය.

12
පාඩම
एकादशः पाठः।

# किं त्वं वाचालोऽस्मि ? अहं वाचालो नास्मि ।

**III.** අස්ත්‍යර්ථ තද්ධිතය

किं त्वं धनिकोऽसि ? नाहं धनिकोऽस्मि । (ඔබ ධනවතෙක් ද? නැත මම ධනවතෙක් නොවෙමි).

धनिकः යනු ධනය ඇති තැනැත්තා ය. धनं अस्य अस्ति । - (ධනය මොහුට ඇත) යන පද කිහිපය සංක්ෂිප්ත කොට **धनिक** ලෙස සකස් කෙරේ. ඇති බව අඟවනු ලබන්නේ " **इक**" යන ප්‍රත්‍යය එකතු වීමෙනි.

धनं अस्य अस्ति
धनं = ධනය

+ इक යනු "අයත් ය සහ ඇත්තේ ය" යන තේරුම සහිත ප්‍රත්‍යයකි.
धनं + इक >
धन + इक = "ධනය ඇත්තේ ය" යන තේරුම සහිත ප්‍රකෘතිය හා ප්‍රත්‍යයෙ යි.
धनिक = යනු "ධනය ඇත්තා" යන තද්ධිත පදය යි.

මෙලෙස ධනය ඇති තැනැත්තා, වාසනාව ඇති තැනැත්තා යනාදි පද ධනවත්, භාග්‍යවත් වශයෙන් තනිපද ලෙස සිංහල භාෂාවෙහි ව්‍යවහාර කෙරේ. සංස්කෘත භාෂාවෙහි ද ධනවාන්, භාග්‍යවාන් ආදි ලෙස යෙදේ.

| සිංහල | | संस्कृत |
|---|---|---|
| ශ්‍රමික | - | श्रमिक |
| බුද්ධික | - | बुद्धिक |
| ගුණවත් | - | गुणवत् |

| | | |
|---|---|---|
| ශ්‍රීමත් | - | श्रीमत् |
| ජටිල | - | जटिल |
| වාචාල | - | वाचाल |
| මධුර | - | मधुर |

යනාදි ලෙස භාවිත වනුයේ ද සංස්කෘත භාෂාවෙහි **අස්ත්‍යර්ථ තද්ධිත** ලෙස හඳුන්වනු ලබන නාමපදයන් ය.

අස්ත්‍යර්ථ තද්ධිතයේ බහුල ව යෙදෙන ප්‍රත්‍යය කිහිපයක් හා ඊට අදාළ උදාහරණ පහත දැක්වේ. ඒවා මැනවින් අධ්‍යයනය කරන්න.

අස්ත්‍යර්ථ තද්ධිත පද සාධනයේ දී,

**इक इन अण् इन् विन् वत् मत् र ल आल लु आलु इल वल ऊल**

**इक** ප්‍රත්‍යය

| | | | | | |
|---|---|---|---|---|---|
| धन + इक | = | धनिक | > | धनिकः | (ධනය ඇති) |
| श्रम + इक | = | श्रमिक | > | श्रमिकः | (ශ්‍රමය ඇති, ශ්‍රමය කැපකරන) |
| बुद्धि + इक | = | बुद्धिक | > | बुद्धिकः | (නුවණ ඇති) |

**इन** ප්‍රත්‍යය

| | | | | | |
|---|---|---|---|---|---|
| फल + इन | = | फलिन | > | फलिनः | (ගෙඩි ඇති) |
| मल + इन | = | मलिन | > | मलिनः | (කිළිටි ඇති) |
| बर्ह् + इन | = | बर्हिण | > | बर्हिणः | (පිල්කලඹ ඇති, මොනරා) |

**अण्** ප්‍රත්‍යය (මෙහි **ण्** කාරයට මූලස්වර වෘද්ධිය වන බව සැලකිය යුතුයි).

| | | | | | |
|---|---|---|---|---|---|
| प्रज्ञा + अण् | = | प्राज्ञ | > | प्राज्ञः | (ප්‍රඥාව ඇති) |
| श्रद्धा + अण् | = | श्राद्ध | > | श्राद्धः | (ශ්‍රද්ධාව ඇති) |
| अर्चा + अण् | = | आर्च | > | आर्चः | (පූජාව ඇති) |

इन् ප්‍රත්‍යය

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| धन | + इन् | = | धनिन् | > | धनी | (ධනය ඇති) |
| सुख | + इन् | = | सुखिन् | > | सुखी | (සැප ඇති) |
| रोग | + इन् | = | रोगिन् | > | रोगी | (රෝග ඇති) |

विन् ප්‍රත්‍යය

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| मेधा | + विन् | = | मेधाविन् | > | मेधावी | (නුවණ ඇති) |
| तपस् | + विन् | = | तपस्विन् | > | तपस्वी | (තපස ඇති) |
| तेजस् | + विन् | = | तेजस्विन् | > | तेजस्वी | (තේජස ඇති) |

वत् සහ मत् ප්‍රත්‍යය

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| धन | + वत् | = | धनवत् | > | धनवान् | (ධනය ඇති, ධනවත්) |
| गुण | + वत् | = | गुणवत् | > | गुणवान् | (ගුණ ඇති, ගුණවත්) |
| भग | + वत् | = | भगवत् | > | भगवान् | (භාග්‍යය ඇති, භාග්‍යවත්) |
| प्रीति | + मत् | = | प्रीतिमत् | > | प्रीतिमान् | (සතුට ඇති, ප්‍රීතිමත්) |
| श्री | + मत् | = | श्रीमत् | > | श्रीमान् | (ශ්‍රියා ඇති, ශ්‍රීමත්, උදාර) |
| ह्री | + मत् | = | ह्रीमत् | > | ह्रीमान् | (ලජ්ජා ඇති, ලජ්ජිත) |

र ප්‍රත්‍යය

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| मधु | + र | = | मधुर | > | मधुरः | (මිහිරි බව ඇති) |
| मुख | + र | = | मुखर | > | मुखरः | (මුකරි බව ඇති, කට ඇති) |
| कुञ्ज | + र | = | कुञ्जर | > | कुञ्जरः | (හනුවක් ඇති, ඇතා) |

ल සහ आल ප්‍රත්‍යය

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| चूडा | + ल | = | चूडाल | > | चूडालः | (කරමලයක් ඇති, කුකුළා) |
| शिखा | + ल | = | शिखाल | > | शिखालः | (ශිඛාවක් ඇති, මොනරා) |
| अंस | + ल | = | अंसल | > | अंसलः | (පිරුණු උරහිස් ඇති) |
| वाच् | + आल | = | वाचाल | > | वाचालः | (බොහෝ වචන ඇති, වාචාල) |

लु ප්‍රත්‍යය

| | | | | |
|---|---|---|---|---|
| कृपा | + लु | = कृपालु | > कृपालुः | (කරුණාව ඇති, කාරුණික) |
| दया | + लु | = दयालु | > दयालुः | (දයාව ඇති) |
| श्रद्धा | + लु | = श्रद्धालु | > श्रद्धालुः | (ශ්‍රද්ධාව ඇති) |

आलु ප්‍රත්‍යය

| | | | | |
|---|---|---|---|---|
| शीत | + आलु | = शीतालु | > शीतालुः | (අධික ශීතල ඇති) |
| उष्ण | + आलु | = उष्णालु | > उष्णालुः | (අධික උෂ්ණය ඇති) |
| कृष्ण | + आलु | = कृष्णालु | > कृष्णालुः | (අධික කලුපැහැ ඇති) |

इल ප්‍රත්‍යය

| | | | | |
|---|---|---|---|---|
| फेन | + इल | = फेनिल | > फेनिलः | (පෙනගොබයක් ඇති, නයා) |
| उरस् | + इल | = उरसिल | > उरसिलः | (පුළුල් උරස්තල ඇති, විසල් පපුව ඇති) |
| सिकता | + इल | = सिकतिल | > सिकतिलः | (වැලි ඇති, වැලි විසිරුණු) |

वल ප්‍රත්‍යය

| | | | | |
|---|---|---|---|---|
| कृषि | + वल | = कृषीवल | > कृषीवलः | (කෘෂි කටයුතු ඇති, ගොවියා) |
| परिषद् | + वल | = परिषद्वल | > परिषद्वलः | (පිරිස ඇති) |
| शत्रु | + वल | = शत्रुवल | > शत्रुवलः | (සතුරන් ඇති) |

ऊल ප්‍රත්‍යය

| | | | | |
|---|---|---|---|---|
| वात | + ऊल | = वातूल | > वातूलः | (වාත රෝග ඇති) |
| बल | + ऊल | = बलूल | > बलूलः | (බලය ඇති) |
| दन्त | + ऊल | = दन्तूल | > दन्तूलः | (දළ ඇති, ඇතා) |

## අභ්‍යාසය 12.1

01. ගුරුවරයාගේ සහාය ඇති ව වරහන් තුළින් සුදුසු නාමපද තෝරා පහත වගුවේ ප්‍රත්‍යය අනුව වර්ග කරන්න.

(दन्तावल / श्रद्धावान् / शीतालुः / यशस्वान् / शिखावलः / पिच्छिलः / श्राद्धः / छत्रिकः / मालिकः / पयस्वान् / शुशिरः / श्रुतवान् / धृतिमान् / तुण्डिलः / तपस्वी / पेनलः / पयस्वी / रूपिकः / मायालुः / कृपालुः / आयुष्मान् / रुचिरः / चक्षुमान् / यशस्वी / श्वेतालुः)

| वत् | मत् | इल | वल | इक | आलु | अण् | इन | विन् | लु |
|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | | | |

02. පහත දැක්වෙන තද්ධිත පදවල තේරුම් ලියන්න.

०१. सुखिन् ..............................

०२. आर्थिन् ..............................

०३. कुमुदुनी ..............................

०४. रसवान् ..............................

०५. तेजस्वी ..............................

०६. मायिकः ..............................

०७. दृष्टवान् ..............................

०८. बन्धुमान् ..............................

०९. कुञ्जरः ..............................

१०. नगरः ..............................

११. कुलिनः ..............................

१२. मांसलः ..............................

१३. उदकालुः ..............................

१४. दन्तूलः ..............................

१५. तुण्डिलः ..............................

१६. बर्हिणः ..............................

## IV. සමූහාර්ථ තද්ධිතය

अथ कदाचित्तत्रानुषङ्गिकं वानरयूथमितश्चेतश्च परिभ्रमदागतम्।

(කිසියම් වඳුරු රැළක් ඒ මේ අත ඇවිදිමින් පිළිවෙළින් එතැනට පැමිණියහ.)

• වඳුරු රැළක් යනු ඉරි ඇඳි පදයෙහි තේරුමයි. රංචුව, රැළ, රළ, රැන, පොකුර, පන්තිය, වර්ගය, කැළ යනාදි පද සමූහයක් හැඳින්වීම සඳහා සිංහල භාෂාවෙහි යෙදෙන තනි පදයන් ය.

**यूथ – राशि – षण्ड – वर्ग – समूह – गण – वृन्द** යනාදි පද සමූහාර්ථය ඇඟවීම සඳහා සංස්කෘත භාෂාවෙහි යෙදෙන පද කිහිපයකි. සමූහාර්ථය ඇඟවීම සඳහා **ता – या – इनी – त्रा – अण् – यण् – कण् – इकण्** යනාදි ප්‍රත්‍යය යෙදේ.

जनानां समूहः – जनसमूहः ( समास)
जनानां समूहः – जनता (तद्धित)

ජනතා යනු මිනිසුන්ගේ එකතුවයි. සමූහය යනාර්ථය සඳහා - තා - යන ප්‍රත්‍යය යෙදී ඇත. එලෙස තනා ගනු ලබන නාමපද සමූහාර්ථ තද්ධිත නමින් හැඳින්වේ.

• ඉහතින් දැක්වුණු සමූහාර්ථවාචී ප්‍රත්‍යයන් ෂෂ්ඨී විභක්ත්‍යන්ත නාමයන් කෙරෙන් පරව යෙදී පද සාධනය වේ.

**ता या इनी त्रा अण् यण् कण् इकण्**

### අභ්‍යාසය 12.2

01. උදාහරණයට අනුව සුදුසු ප්‍රත්‍යය යොදා නාමපද සකසන්න.

උදා:- **ජනානාං සමූහඃ** - මෙහි ෂෂ්ඨී විභක්ති අන්තය ලොප් වේ. එවිට - ජන - යන්න පමණක් ශේෂ වේ. සමූහාර්ථය ලබා දෙන - තා - ප්‍රත්‍යය එකතු කෙරේ. එවිට ජනතා යන්න තැනේ.

१. सहायानां समूहः – ............................................ ( ता )
२. पाशानां समूहः – ............................................ ( या )
३. वातानां समूहः – ............................................ ( या )

४. गवां समूहः - .................................................. ( त्रा )

५. भिक्षाणां समूहः - .................................................. ( अण् )

६. युवतीनां समूहः - .................................................. ( अण् )

७. केदाराणां समूहः - .................................................. ( यण् )

८. धेनूनां समूहः - .................................................. ( कण् )

९. कवचानां समूहः - .................................................. ( इकण् )

१०. बन्धूनां समूहः - .................................................. ( ता )

सुतप्तमपि पानीयं शमयत्येव पावकम्।
සුතප්තමපි පානීයං ශමයත්‍යෙව පාවකම්
වතුර උණුකළත් ගින්න නිවයි.

हितं मनोहारी च दुर्लभं वचः।
හිතං මනෝහාරී ච දුර්ලභං වචඃ
හිතවත් හා මිහිරි වචන දුර්ලභ ය.

हतः सैन्यमनायकम्।
හතං සෛන්‍යමනායකම්
නායකයෙක් නැති සේනාව විනාශ වේ.

13
පාඩම
त्रयोदशः पाठः।

# सम्भाषणं कर्तुं शक्नोषि किल ?

කෘදන්ත යනු සංස්කෘත භාෂාව තුළ නාම, නාම විශේෂණ, ආඛ්‍යාත හා අව්‍යය වශයෙන් භාවිත වන ශබ්ද විශේෂයකි. කෘත් සහ අන්ත යන පද සංයෝග වීමෙන් සකස් වී ඇති මෙම ශබ්දය මගින් හැඟවෙන වචන සමුදාය ප්‍රධාන වශයෙන් වර්ග දෙකකට බෙදිය හැක. ඒ

1. වරනැගිය හැකි කෘදන්ත
2. වරනැගිය නො හැකි කෘදන්ත

## අව්‍යය කෘදන්ත (වරනැගිය නොහැකි කෘදන්ත)

අව්‍යය යනු සියලු ස්ථානයන්හි ම වෙනස් නො වී පවත්නා ශබ්ද විශේෂයකි. තාදර්ථ්‍ය, පූර්වක්‍රියා, මිශ්‍රක්‍රියා හා ක්‍රියාවිශේෂණ යනුවෙන් ප්‍රභේද හතරක් එහි ඇත. ධාතුන්හි අගට අව්‍යය කෘදන්ත ප්‍රත්‍යයන් යෙදීමෙන් මෙම පද සාදාගනු ලැබේ.

तुम् - त्वा - य ප්‍රත්‍යයෝ

### तुम् ප්‍රත්‍යය ය.

මෙම සංවාදය ශබ්දනඟා කියවන්න. වර්ණ ගන්වා ඇති පද කෙරෙහි අවධානය යොමු කරන්න.

छात्राः - श्रीमन् ! अद्य भवान् किं पाठयति ?

शिक्षकः - यूयं किं **पठितुम्** इच्छथ ?

छात्राः - वयं संस्कृतसंभाषणविषये किञ्चित् **ज्ञातुम्** इच्छामः।

शिक्षकः - किं **ज्ञातुम्** इच्छथ ?

अतुलः - अहं श्रुतवान् यत् संस्कृतेन अपि सम्भाषणं **कर्तुं** शक्यते।

शान्तः - एवं **भवितुं** न अर्हति। अहं **विश्वसितुं** न शक्नोमि।

शिक्षकः - भो ! अतुलः सत्यम् उक्तवान्। अत्र समीपे एव एकं विद्यास्थानम् अस्ति।
तत्र संभाषणशिबिरं च अस्ति। **द्रष्टुम्** इच्छथ किम् ?

